# කලා

කොළඹ මහ තැපැල් හලේ ලියා පදිංචි කරණ ලදී.

20 වැනි කාණ්ඩය

12 වැනි කලාපය

1974 සැප්: 15 හා 30

කාර්යාලය :

117, අලුත් හෙට්ටි වීදිය, කොළඹ-13.

වැලි : 33291 - 33292

මිළ ශත -/60.

සංස්කාරක :

ආරියරත්න කහවිට


## මුල් පිටුව

අද 'කලා' මුල් පිටුව සරසන්නේ 'දුප්පතාගේ හිනාවතා' චිත්‍රපටියේ පෙම්වතුන් ලෙස රගපාන නීටා ප්‍රනාන්දු සහ බැප්ටිස් ප්‍රනාන්දු පෙනී සිටින ජවනිකාවකිනි.

විනෝදාත්මක පබඳ පෙල් පවුලේ කතාවක් රැගත් 'දුප්පතාගෙ හිනාවතා' චිත්‍රපටියේ එච්. ඩී. කුලතුංග, ශාන්ති ලේඛා, රෙක්ස් කොඩිප්පිලි, පරිනාලයි, පිංදුස විජේකෝන්, එඩී ජයමාන්න, ක්‍රිස්ටි ලෙනාඩ්, ලූක් සිරිසේන, බී. එස්. පෙරේරා, අරුණ ශාන්ති, වින්සන්ට් වාස් සහ රොනල්ඩ් ප්‍රනාන්දු යන නළුනිළියන් ද රගදක්වති. ජැස් වී. වසන්ත් මේ චිත්‍රපටිය අධ්‍යක්ෂණය කර ඇත. සංගීතය රොක්සාමිගෙනි. වාමදේවන් කැමරාව මෙහෙයවා ඇත. නිෂ්පාදක බැප්ටිස් ප්‍රනාන්දුය.

## තිවෙත ගිත්ත අරඹයි

වෛද්‍ය ඇමති ටී. බී. ඉලංගරත්න මහතාගේ 'තිවෙත ගිත්ත' නවකතාවද චිත්‍රපටිගත කිරීමට යයි. මුණි කුත්බජ්මාල් නිපදවන මේ චිත්‍රපටිය අධ්‍යක්ෂණය අමරනාත් ජයතිලකට පැවරී ඇත.

ශ්‍රියානි අමරසේන සහ රවීන්ද්‍ර රත්දෙනිය ප්‍රධාන නළු නිළි යුවළ ලෙස රගපාන 'තිවෙත ගිත්ත' චිත්‍රපටියේ තිර කතාව සහ දෙබස් ඇන්ටන් අල්විස් ලියා ඇත. මෙල්වින් ප්‍රේමරත්නගේ සංගීතයට ලතා වල්පොල සහ නන්දා මාලිනී ගයන ගීත දෙකක් ඉකුත් සතියේ විජය චිත්‍රාගාරයේදී තැටිගත කරණ ලදී. ධර්මසිරි ගමගේ මෙහි පද මාලා ලියා ඇත. ඩොනල්ඩ් කරුණාරත්න මේ චිත්‍රපටියේ කැමරාව මෙහෙයවයි.

## මීලඟට නිල්ල සොයා

කස්තුරි සුවඳ නැතුව පියසේන ද සිල්වාගේ මීලඟ චිත්‍රපටියේ වැඩ අගෝස්තු 24 දා පටන් ගන්නා ලදී.

'නිල්ල සොයා' නමින් හැඳින්වෙන මේ චිත්‍රපටියේ ගාමිණී ෆොන්සේකා, ගීතා සමන්මලී කුමාරසිංහ, ලයනල් දැරණියගල, මානෙල් වානගුරු සහ බන්දු සමරසිංහ රගපාති. සෝමපාල ලීලානන්ද මෙහි තිර කතාව සහ දෙබස් ලියා ඇත.

සරත් දසනායකගේ සංගීතයට ඇන්ජලින් ගුණතිලක සහ මිල්ටන් මල්ලවාරච්චි ගයන ගීත හතරක් පසුගිය සතියේ පටිගත කරණ ලදී.

'නිල්ල සොයා' චිත්‍රපටිය අධ්‍යක්ෂණය කරන්නේ සේන සමරසිංහය.



නීටා ප්‍රනාන්දු සහ බැප්ටිස්ට් ප්‍රනාන්දු පෙනී සිටින මේ ජවනිකාව දැනට සිනමාස් සිනමාහල්වල පෙන්වන 'දුප්පතාගෙ හිනාවතා' චිත්‍රපටියෙනි.

## අඩක් ඉවරයි

ලංකා චිත්‍රාගාරය වෙනුවෙන් ජේ. සෙල්වරත්නම් අධ්‍යක්ෂණය කරණ 'සංජීවා' චිත්‍රපටියේ වැඩ අඩක් පමණ නිමවී ඇත.

ගාමිණී ෆොන්සේකා සහ ශිරෝමි ජයකොඩි ප්‍රධාන චරිත රගපාන මේ චිත්‍රපටියේ එඩී ජයමාන්න, රුක්මණී දේවි, ලයනල් දැරණියගල, පරිනාලයි, ෆ්‍රෙඩී සිල්වා යන නළු නිළියන්ද රඟදක්වති. වාමදේවන් කැමරාව මෙහෙයවන 'සංජීවා' චිත්‍රපටිය රොක්සාමිගේ සංගීතයෙන් ගීතවත් වෙයි. මෙහි දෙබස් ප්‍රේමකීර්ති අල්විස්ගෙනි.

## සංගීතා අනුමතයි

නිමති වීරරත්න විසින් අධ්‍යක්ෂණය කොට නිපදවන ලද 'සංගීතා' චිත්‍රපටිය ඉකුත 30 දා චිත්‍රපටි පරීක්ෂක මණ්ඩලයට පෙන්වා අනුමැතිය ලබාගෙන ඇත.

විජය කුමාරණතුංග හා මාලිනී ෆොන්සේකා පෙම්වතුන් ලෙස රඟපාන 'සංගීතා' සරත් දසනායකගේ සංගීතයෙන් ගීතවත් වෙයි.

# ගින්නෙන් නසිති

දෙමළ සහ තෙලිඟු චිත්‍රපටිවල රඟපා ඉතා ඉක්මණින් නමක් හිමිකරගත් නළුවකු වන සසි කුමාර් සහ ඔහුගේ බිරිඳ වන සසිකලා පසුගියදා මියගියහ. සසි මියයන විට වයස 37ක් වන අතර ඇගේ වයස 5 කි.

සසිකලා කෑම පිසමින් කුස්සියේ සිටි අතර එහිවූ භූමිතෙල් උදුන පිපිරීමෙන් ඇගෙ සාරියට ගිනි ඇවිලී ඇත. ඇයව බේරාගැනීමට ගිය සසිද හොඳටම ගින්නෙන් පිළිස්සී ඇත. මේ අඹුසැමි යුවල රෝහලට ඇතුලත් කොට පැය කිහිපයකට පසු මියගොස් ඇත.

යුද හමුදාවේ අවුරුදු දහයක්ම සේවය කල සසි බාලාජීගේ 'තිර ඔත්' චිත්‍රපටියෙන් සිනමාවට පිවිසියේය.

දැනට චිත්‍රපටි 52 ක පමණ රඟපෑ ඇති සසි පසුගියදා මෙහි පෙන්වූ 'අවල් චිත්‍රපටයෙ ප්‍රධාන චරිතය නිරූපණය කලේය

මේ දෙපලට දුර්ගා නමින් අට හැවිරිදි දියණියක්ද විජය සරාතී නමින් හය හැවිරිදි පුතෙක්ද සිටී.

# ලබන මස පටන් ගැනේ

'සරදියෙල්ගෙ පුතා' චිත්‍රපටයේ දර්ශන ගැනීම ඔක්තෝබර් 3 දා පටන් ගැනේ.

ඇලෙක්සැන්ඩර් ප්‍රනාන්දු සහ මලිනී ෆොන්සේකා ප්‍රධාන චරිත නිරූපණය කරන මේ චිත්‍රපටයේ ටෝනි රණසිංහ, ආනන්ද ජයරත්න, රුක්මණී දේවි ගීතා සමත්ලී, ශාන්ත ලේඛා, සෝම සිරි දෙහිපිටිය සෙසු චරිත රඟපාති විජය කුමාරණතුංග මේ චිත්‍රපටියේ බෞද්ධ භික්ෂුවක ලෙස රඟපායි.

ලෙනින් මොරායස් කැමරාව මෙහෙය වන සරදියෙල්ගෙ පුතා' චිත්‍රපටියට පී ඇල්, ඒ සෝමපාල සංගීතය සපයයි මධුර චිත්‍රපටි සමාගම වෙනුවෙන් ඩේවිඩ් වික්‍රම රත්න නිපදවන මේ චිත්‍රපටයේ අධ්‍යක්ෂවරයා නීල් රූපසිංහය.



මාලිනී ෆොන්සේකා ගේ මේ නැටුම් ජවනිකාව සරත් රූපසිංහ විසින් නිෂ්පාදිත 'අවා සොයා අදැරී' චිත්‍රපටියෙනි.



නීටා ප්‍රනාන්දු සහ බැප්ටිස්ට් ප්‍රනාන්දුගේ මේ රූප රාමුව දැන් සිනමාස සිනමාහල්වල පෙන්වන 'දුප්පතාගෙ හිතවතා' චිත්‍රපටියෙනි.

# පගයි ගතලීස් පගයි

කාන්ති චිත්‍රපටි සමාගම වෙනුවෙන් විල්ෆ්‍රඩ් දබරේරා විසින් නිපදවීමට යන 'පගයි ගතලිස් පගයි චිත්‍රපටියේ මුහුර්ත උත්සවය ඉකුත්දා නිෂ්පාදක නිවසේදී පවත්වන ලදී

සේනාධීර රූපසිංහ, ඇලෙක් සැන්ඩර් ප්‍රනාන්දු, සෝනියා දිසා, ඇල්ප්‍රඩ් එදිරිමාන්න, කුසුම් පෙරේරා රඟපාන මේ චිත්‍රපටියේ කැමරාව මෙහෙයවමින් දයා විමලවීර අධ්‍යක්ෂණය කරයි සංගීතය සඳහා රොක්සාමි තෝර ගෙන ඇත ගී සතාව සහ දෙබස් සේනාධීර රූපසිංහ විසින් ලියා ඇත

# මේ තිදෙනාගෙන් හවුල් චිත්‍රපටයක්

අශෝක් කුමාර්, අනූප් කුමාර්, සහ කිශෝර් කුමාර් යන සොහොයුරන් තිදෙන හවුල්වී තවත් චිත්‍රපටියක් තැනීමට යයි 'අනාදි කාලාදි කලිපා' නමින් තැනෙන මේ චිත්‍රපටයට කිශෝර් සංගීතය සපයන අතර, ඔහුගේ පුත් අමිත් ප්‍රධාන නළු චරිතය නිරූපණය කරයි.

මීට කලින් මේ තිදෙනා හවුල් වී 'චල්ති කා නාම් ගඩි' නමැති විකට චිත්‍රපටිය තැනුවේය.

# සාගරිකා දුත් පෙන්වයි

ඉකුත් 6 ද සිට සිලෝන් තියටර් සිනමා හල්වල සාගරිකා' ප්‍රදර්ශනය වේ.

ටෝනි රණසිංහ, ශ්‍රියානි අමරසේන, නීටා ප්‍රනාන්දු, රොබින් ප්‍රනාන්දු, රෙක්ස් කොඩිප්පිලි, හියුගෝ ප්‍රනාන්දු, ඩී. ආර් නානායක්කාර, සෝමසිරි දෙහිපිටිය, රුක්මණී දේවි, දෙනවක හාමිනේ විමල් කුමාර් ද කෝස්තා රඟපාන 'සාගරිකා' චිත්‍රපටියට සෝමදාස ඇල්විටිගල සංගීතය සපයා ඇත. ලතා වල්පොල එම්. එස් ප්‍රනාන්දු සනත් නන්දසිරි, ත්‍රි සිස්ටර්ස් සහ අමිතා දලුගම පසුබිම් ගී ගයති. පද්මාලා සහ දෙබස් කරුණාරත්න අබේසේකර විසින් ලියා ඇත.

'සාගරිකා' චිත්‍රපටියේ කතාව ලියා නිෂ්පාදනය කර ඇත්තේ එතල් රත්නායකයි අධ්‍යක්ෂවරයා වසිටස් තොටවත්තයි.

බොහෝ චිත්‍රපටිවල දෙබස් වලින් කියාපාන අරුත මේ චිත්‍රපටියේ හැඟීම් වලින් සහ දර්ශන වලින් දක්වීම මේ චිත්‍රපටයේ විශේෂ ලක්ෂණයකි.

## යුග ගීතයක් ගැනේ

'උත්තත් දහසි - මලත් දහසි' චිත්‍රපටිය සඳහා ලතා වල්පොල සහ කේ. සේන ගයන යුග ගීයක් ඉකුත් 1 ද විජය චිත්‍රාගාරයේදී පටිගත කරණ ලදී මේ ගීතය ජෝර්ජ් ලෙස්ලි රණසිංහ විසින් ලියා ඇති අතර සංගීත අධ්‍යක්ෂවරයා සරත් දසනායකයි.

දනට එකකටත් වඩා දර්ශන ගෙන ඇති 'උත්තත් දහසි-මලත් දහසි' චිත්‍රපටිය නිෂ්පාදනය වන්නේ සුප්‍රකට වෙළඳ ව්‍යාපාරිකයකු වන යූ ඩබ්ලිව්. සුමතිපාලන.

---

සමන් කුමාරි සහ අජිත් කුමාරගේ මෙ රූප රමුව දනට බොහෝ දුරට වැඩ නිමවී ඇති 'මගේ රත් පුතා' චිත්‍රපටියෙනි. ඇන්. ඇම් සමුන් නිෂ්පාදනය මේ චිත්‍රපටියේ අධ්‍යක්ෂවරයා එස්. වී. බාලන්ය.

# තිලකා නිම වෙයි

වෙළඳ ඇමති ටී. බී ඉලංගරත්න මහතාගේ ජනප්‍රිය නව කතාවක්වූ 'තිලක සහ තිලකා' චිත්‍රපටියේ දර්ශන තැනීම ඉකුත් සතියේ අවසන් විය

---

අලුත් තළු තිලි යුවලක් වන වජිරා කබ්රාල් සහ කරුණාරත්න හගවත්ත තිලක සහ තිලකා චිත්‍රපටියේ ප්‍රධාන චරිත නිරූපණය කරති සුමිත් අමරසිංහ වෙනි කමරව මෙහෙයවන අතර සංගීතය මෙල්වන් ප්‍රේමරත්නගෙනි. මේ චිත්‍රපටියේ තිර කතාව සහ දෙබස් ධර්මසිරි ගමගේ ලියා ඇත. අමරදේව, ලතා වල්පොල, චන්ද්‍රිකා සිරිවර්ධන පසුබිම් ගී ගයති

සිනෙත ජය චිත්‍රපටි සමාගම වෙනුවෙන් ජයන්ත එදිරිසිංහ නිෂ්පාදනය 'තිලක සහ තිලකා' චිත්‍රපටිය අධ්‍යක්ෂණය කරන්නේ අමරනාත් ජයතිලක විසිනි.





ශ්‍රියානි අමරසේන මෙසේ රඟපාන මේ ජවනිකාව දනට සිලෝන් තියටර්ස් සිනමා හල්වල පෙනවන එතල් රත්නායක ගේ 'සාගරිකා' චිත්‍රපටියෙනි. මෙය වසිටස් තොටවත්ත අධ්‍යක්ෂණය කර ඇත.

# කාංචනා ඇරඹේ

සුගත් මාසකෝරාල අධ්‍යක්ෂණය කරන කාංචනා' චිත්‍රපටියේ මුහුර්ත උළෙල ඉකුත් 8 ද ලංකා චිත්‍රාගාරයේදී පැවැත්විය

විජය කුමාරණතුංග, ශ්‍රියානී අමරසේන, ජෝ අබේවික්‍රම. රත්නා ද සිල්වා රඟපාන කාංචනා' චිත්‍රපටියේ කතාව සහ දෙබස් උපාලි අමරජීව විසින් ලියා ඇත. සරත් දසනායක සංගීතය සපයන මේ චිත්‍රපටියේ ගීත කිහිපයක් දනටමත් පටිගත කොට ඇත. එච් ආර් ජෝතිපාල, ඇන්ජලින් ගුණතිලක මිල්ටන් මල්ලවාරච්චි සුජාතා අත්තනායක පසුබිම් ගී ගයති මේ චිත්‍රපටයේ කැමරාව ඩැනී ඩබ්ලිව්. පතිරණ මෙහෙයවයි.

# සංගීත සංග්‍රහය

ජනප්‍රිය නලුවෙකු වන බැප්ටිස්ට් ප්‍රනාන්දු ප්‍රධාන චරිතය රඟපාමින් නිපදවනලද 'දුප්පතාගේ හිතවතා' චිත්‍රපටියේ ගීතයක් අද සංගීත සංග්‍රහයේ පලවේ 'දුප්පත් පොහොසත්' ගීතය එච් ආර් ජෝතිපාල ගයයි ශ්‍රී නිහාල් ඒ ජයසිංහ ගී පබඳ ඇත සංගීතය රොක්සාමි ගෙනි





දුප්පත් පොහොසත් දෙකක් ඔනැ නැහැ
භූමිය මත ලෝකේ - මේ රඟ භූමිය මත ලෝකේ //

ගංගා ඇල දොළ සිඹ රූද ගල්පර ගලන්නේ මොනවාට
දුක් පීඩා ද බිඳු නම් වන මේ අපගේ පිපාසෙට
සම්පත් වීල ධනපතියා හැතපෙන කල මහ මන්දිරේ
කන්න බොන්න නැති අසරණ දුගියා බඩගින්නේ පාරේ

( දුප්පත් පොහොසත් - - - )

සෙවන දෙන්න සුවසේ ගස්කොලං හැදේවි
පිපිටවෙන්න රඟාස් දෙව් කෙනෙක් සිටීවි //

අන්ධකාර රත්වන එ පහන් දිලේවී
දුකින් [illegible] න්න මිනිසා [illegible] රීම [illegible] න් දිනාවී
ඇන්න සඳකල් පවතීනවාලයි නැහැ පිටුපා යන්නේ
මේ ඔන තීරනම් මිතුරේ අපහට නැහැ වරදින්නේ

( දුප්පත් පොහොසත් - - - - )

වස්තුව ඇති ප්‍රභූත්වා දෙන්න සිත නොදෙන්නේ
බෙදා දෙන මේ අපටා දෙන්න නැහැ ලැබෙන්නේ //

අරාධනාවක් නැති නමුත් දෙවින්දා
සාදරයෙන් වඩින්නේ උපන් [illegible] ල බිලින්දා
අඹන්න ඇටුවෙයි-ඉන්දසු ලතවෙයි ඒ කරුමයෙන් නොවේ
ලොව සව් සම්පත් කෙනෙකුට පමණක් දෙවියන් දීලා නොවේ

(දුප්පත් පොහොසත් - - - -)

# සිංහලෙන් හින්දි

5 වෙනි පාඩම — පාඨ පාංච්

පහත සඳහන් අලුත් වචන කීපය බලන්න :-

| | |
|---|---|
| 1. ආප් - ඔබ, ඔබතුමා | 6. දූධ් - කිරි |
| 2. තුම් - තුඹ | 7. ස්කූල් - පාසැල |
| 3. තූ - තෝ | 8. චීනී - සීනි |
| 4. පානී - වතුර | 9. කාගජ් - කඩදාසිය |
| 5. චායි - තේ | 10. පෙන්සිල් - පැන්සලය |

සැ: යු:- ආප් 'ඔබතුමා' යනුවෙන් ඇමතිය යුත්තේ තමාට වඩා උසස් මවුපිය, ගුරුවරු සහ ප්‍රභූන් ඈදීන්ටය. තවද ආප් කියා පටන්ගත් කල එම වාක්‍යය අවසන්විය යුත්තේ 'හෛං' යන බහු වචන ක්‍රියා පදයෙනි. ආප් ඒක වචන වුවද හෛං යන බහු වචන ක්‍රියාව යෙදී ඇත්තේ ගෞරවාර්ථයෙන් තිබිය යුතු නිසාය.

උදා :- ආප් කෞන් හෛං ? - ඔබතුමා කවරෙක්ද ?

තුම් 'තුඹ' මෙය පාවිච්චි කල යුත්තේ සම වයසේ තම මිතුරෙකුට හෝ තමාට වඩා බාල අයෙකුටය. තුම් යනුවෙන් පටන්ගත් කල එම වාක්‍යය අවසන්විය යුත්තේ 'හෝ' යන්න යෙදීමෙනි.

උදා :- තුම් කෞන් හෝ ? - තුඹ කවරෙක්ද ?
තුම් කහාං ජාතේ හෝ ? - තුඹ යන්නේ කොහේද?

මෙම වාක්‍ය දෙකන්ම යම් ප්‍රශ්ණ අසා ඇති බව ඔබට පෙනෙනු ඇත. එසේනම් තුම් යෙදී හෝ යෙදෙන්නේ ඔනෑම ප්‍රශ්ණයක අවසානය බව ඔබට වැටහෙනු ඇත

තුඹ කෑම කනු - මෙම වාක්‍යය හින්දියට නැගිය යුත්තේ 'තුම් ඛානා ඛාඕ' යනුවෙනි.

තූ 'තෝ' මෙය පාවිච්චි කරණුයේ ඉතාමත් පහත් කසල සෝඩිකයින් වැනි අය ඇමතීමටය. සමහරවිට ළමයින්ට වැඩිහිටියන් ආදරයෙන් අමතීමටද 'තූ' යන්න භාවිතා කරණු ලැබේ

උදා :- තූ ඝර් ජා - තෝ ගෙදර පල.
තූ කාම් කර් - තෝ වැඩ කරපිය.

පහත සඳහන් වාක්‍ය කිපය බලන්න.

1. මෛං දූධ් පීතා හූං - මම කිරි බොමි.
2. වහ පානී පීතා හෛ - ඔහු වතුර බොයි.
3. රෝෂනී චායි පීතී හෛ - රෝෂනී තේ බොන්නීය.

මෙම වාක්‍යය දෙස බලන්න රෝෂනී යනු ගැහැණු ලමයෙකුගේ නමක් වේ එබැවින් එය ස්ත්‍රී ලිංගය. නාමය ස්ත්‍රී ලිංග වූ නිසා ක්‍රියා පදයද ස්ත්‍රී ලිංගයෙන් තිබිය යුතු බැවින් 'පීතී හෛ' බොන්නීය යනුවෙන යෙදී ඇත. ලිංග සම්බන්ධයෙන් විස්තර ඔබට ඉදිරි පාඩම් වලින් ඉගෙනීමට හැකිවේ.

රත්නසිරි සමරසේකර විසිනි

# කඳුයුරේදීති ගීයෙන් ජනප්‍රියවූ

# ක්ලැරන්ස් විජේවර්ධන

## උපාලි ඩී. කුරුප්පු ලියයි



සංගීතයක් - - - සතුට මිහිර බෙදෙන සංගීත කණ්ඩායමක් - - කෙලෙසකින්වත් අමතක කළ නොහැකි පෙරලිකාර සංගීත කණ්ඩායමක් - - සහජ හැකියාවන් ඉස්මතුකර පෙන්වන ගීතයෙන් සංගීතයෙන් හපන්කම් දක්වන සංගීත කණ්ඩායමක් - - ගායක කණ්ඩායමක් - - - මේ සුපර් ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමයි: සුපර් ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමේ නායකත්වය දරන්නේ ක්ලැරන්ස් විජේවර්ධනයි ඔහු සංගීත අංශයට පිවිසි ආකාරය සංගීත අංශයේ දී කරන්නට හැකිවූ හපන්කම් ගැන මා ඉදිරියේ කියා පානව

මම පාසැල් කාලයේදී පවා සංගීත අංශයට ගීත ගයනයට හුඟක් ආශා වෙනුයි හිටියෙ පාසැල් වැඩකට යුතු සා සංගීත අංශයට එතරම්ම ගත යොමු කරවන්න මට අවසර වක් ලැබුණේ නෑ. මා පාසැල් දිවියෙන් සමුගත් වහාම මගේ තාත්තා මට ගිටාරයක් ගෙනදීත් දුන්නේ පාසැල් සමයේදී එවැනි තක් මට ගෙනවිත් දුන්නා නම් එයින් මගේ ඉගෙනීමේ කටයුතු වලට අවහිරතාවයක් ඇතිවේය කියා සිතූ නිසා වෙන්නැති. මට ගිටාර් එකක් ලැබුණ මේ සිද්ධිය සිදුවුණේ මට මතක හැටියට 1965 දී පමණ වෙන්නට ඕනෙ මේ කාලයේදී ලංකාවෙ ප්‍රථමයෙන් බිහිවුන ලොස් කැම්බියෝස් ගායක කණ්ඩායමේ ගීත ගුවන් විදුලියෙන් ප්‍රචාරය වෙන්නට වුණා. මෙහෙම කාලය ගෙවෙන අතරේ අපේත් ගායක කණ්ඩායමක් හදන්නට බැරිද යන සිතිවිල්ලක් මගේ හදවතේ රැඳෙන්නට වුණා මේ කාලයේදී නොයෙක් දෙනා ලියූ ගීත ගායනා කරන්න එත් මා පුරුදුව සිටියා. මේ අතරේදී ඇනස්ලි මාලවන කියන මගේ හිතවත්ම මිත්‍රයෙකු ද එවගේම තවත් කිහිපදෙනෙකුගේ සහයෙන් මූන්ස්ටෝන්ස් ගායක කණ්ඩායම මා පිහිටුවා ගත්තා. දිල්හනී දුවනී - - - මංගෝ නැන්දා - - සීගිරිය - පෙම්කත - කාගෙද ගෝංවස්සා යනාදී ගීත විශාල ගණනක් මූන්ස්ටෝන්ස් ගායක කණ්ඩායමේ සිටියදී මා බිහිකළා: මා මුලින්ම සංගීත ලොවට පිවිසියේ ඔන්න ඔය පිලිවෙලටයි.

ක්ලැරන්ස්ගේම ජීවිතයට බලපෑ කරුණු කීපයක් නිසා මූන්ස්ටෝන්ස් ගායක කණ්ඩායමෙන් 1970 මුල් කාලයේදී ඔහු ඉවත්ව තිබෙනවා සංගීතය පිලිබඳව ක්ලැරන්ස් සතු සහජ දක්ෂතාවයත් පරිපෝෂණය නොදී යලිත් වරක් ක්ලැරන්ස්ව සංගීත අංශයට නැඹුරු කර ඇත්තේ ඔහුගේ කණ්ඩායමේ මිතුරන් කීප දෙනෙකු විසිනුයි හිතවතුන්ගේ බලවත් ඇවිටිල්ල නිසාම ක්ලැරන්ස් නැවතත් සංගීත ලොවට පිවිසියේ ගෝල්ඩන් චයිම්ස් නමින් ගායක කණ්ඩායමක්ද පිහිටුවා ගෙනයි ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමේ නායකත්වය දරමින් කිරි මුදු කලම්බලා - - කීමද නාවෙ - - මා අදරේයි නංගියෙ යනාදී ගීත සමග තවත් ගීත විශාල ගණනක් ක්ලැරන්ස් විසින් ගුවනට මුසුකර ඇත

මම පසුගිය වසරේදී ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමෙන් ඉවත්වුණේ සිතුවක්කාරකමකට නොවෙයි. ඇත්ත වශයෙන්ම ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමෙන් මා ඉවත්වීමෙන් සිදුවුණේ ඒ ගායක කණ්ඩායම දෙකට බෙදීමක් පමණයි. මුල් කාලයේ සිටම මගේ සංගීත කටයුතුවලට අත හිත දෙන ඇනස්ලි මාලවන හිතවතාත් ඉන්නේ මා අලුතෙන් පිහිටුවා ගත් සුපර් ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමේ සාමාජිකයෙක් වශයෙනුයි සුපර් ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායම පිහිටුවූ පසු ගැමෙන් ලියුමක් ඇවිල්ලා - - කඳු සුරිඳුනී යනාදී ගීත බොහෝමයක් අපි තැටිගත කළා.

අපේ මේ සුපර් ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමට දැන් වයස අවුරුද්දයි. මේ නිමිත්තෙන් සුපර් කොන්සර්ට් 101 නමින් මහ සංගීත ප්‍රසංගයක් අගෝස්තු 17 දා අපි පැවැත්වූවා මේ සංගීත ප්‍රසංගයේ මුල් කාලයේ සිටම අප ගායනා කළ ගීත බොහොමයක්ම ඉදිරිපත් කිරීමටත් අපිට හැකි වුණා

ක්ලැරන්ස්ගේ වයස දැනට අවුරුදු 24 යි සංගීත අංශයට යොමුවී දැනට වසර 9 යි මෙවැනි තරුණ සංගීත ශිල්පියෙක් කෙටි කාලයක් තුලදී කර ඇති හපන්කම් ගැන අපට සතුටු වෙන්නට පුලුවන්. ක්ලැරන්ස්ගේ හපන්කම් අතර සුපර් ගෝල්ඩන් චයිම්ස් ගායක කණ්ඩායමේ නායකත්වය ගෙන ගීත ගායනා කිරීම පමණක්ම නොවෙයි. ඇත්තෙන් ක්ලැරන්ස් මීට අමතරව සාර්ථක ගීත රචකයෙක් ජනප්‍රිය ගී තනු නිර්මාණය කරන ගීතවලට සංගීතය සපයන ප්‍රතිභාපූර්ණ සංගීත ශිල්පියෙක්. දැනට ක්ලැරන්ස්ගේ අතින් ලියවුන ගීත ගණන තුන් සාරසියයක් පමණ වෙනව ඔහුගේ අතින් ලියැවුන ගීත අතර දිල්හානී - - මංගෝ නැන්දා - - කීමද නාවෙ - - මා අදරේයි නංගියෙ - - ගැමෙන් ලියුමක් ඇවිල්ලා - - කඳු සුරිඳුනී යන ගීත ද වෙයි මේ ගීතයන්හි තනු නිර්මාණය සහ සංගීතයද ක්ලැරන්ස් ගෙනි ලඟදීම ප්‍රදර්ශනය වීමට නියමිත සිකුරු ලියා චිත්‍රපටිය අපේ දෙවන සිනමාස්කෝප් චිත්‍රපටියයි. මේ චිත්‍රපටියට සංගීතය සපයා ඇත්තේ ක්ලැරන්ස් විජේවර්ධන විසිනුයි

චිත්‍රපටියකට සංගීතය සපයන්නට අවස්ථාව ලැබීම ගැන මා සතුටුවෙනව ඒ සතුට දෙගුණ තෙගුණ වෙන්නේ ප්‍රථමයෙන්ම සිනමාස්කෝප් ක්‍රමයෙන් නිපදවනලද චිත්‍රපටියකට සංගීතය සපයන්නට මට අවස්ථාව ලැබීම නිසයි. 'සිකුරුලියා' චිත්‍රපටයට සංගීතය සපයන්නට පෙරත් පසුවත් මම ඒ ගැන නොයෙක් දෙනාගෙන් අදහස් විමසුවා. ඒ අයගේ පිලිතුරු ගැන කල්පනාකර බලනවිට සිකුරු ලියා චිත්‍රපටියේ සංගීතය ගැන මට සතුටුවිය හැකියි. තවත් චිත්‍රපටි කීපයකටම සංගීතය සපයන්නට මට ඇරයුම් ලැබී තිබෙනවා සමහරවිට ඉදිරි චිත්‍රපට වලදීත් මගේ සංගීතය ඇතුලත් වේවි යනුවෙන් ක්ලැරන්ස් පවසයි.

ක්ලැරන්ස් සැමවිටම උත්සාහ කරන්නේ අලුත් දෙයක් දීමටයි. සංගීත අංශයේ අතීත අපට ඊයේ අසන්නට ලැබුණ දෙය අද නොඇසිය යුතුය කියා ක්ලැරන්ස් ප්‍රකාශ කරයි ඔහු සැමදාම අලුත් දෙයක් බිහිකිරීමට උත්සාහ කරන්නේ මේ නිසයි.

මගේ ප්‍රියාදර ගීතලෝලී රසික රසිකාවියන්ගෙන් මට දිනපතාම වගේ ලිපි විශාල ගණනක් ලැබෙනව. අධික වැඩ රාජකාරී නිසා ඒ ලිපි ලැබුණ විගසම ඒ අයගේ ඒවාට පිලිතුරු ලියන්නට මට අවස්ථාව ලැබෙන්නේ නෑ. අඩ කඩ ලැබුණ විගසම මට ලැබෙණ ඒ ලිපිවලට මා පිලිතුරු ලියනවා. මා ගැන අනුකම්පා කර මගේ ආදරණීය ගීතලෝලීන් එතෙක් මා ගැන අමනාප නොවී ඉවසනු ඇතැයි කියා මා විශ්වාස කරණවා යනුවෙන් ක්ලැරන්ස් විජේවර්ධන අවසාන වශයෙන් පැවසීය.

# සොහොයුරන් ගේ

## සිත්තාවිදූ

# දුප්පතා



මුහන්දිරම් විල්සන් ජාවාරම් කාරයෙකි. එහෙත් ඔහු ජීවත්වන්නේ මහ දානපතියකු ලෙසිනි. ඔහුගේ එකම දියණිය රූපා දෙස්තරවරියකි. මේ ගමෙහි වෙසෙනු ආනන්ද සුදු අත්තුවෙකි. එහෙත් ආනන්ද දුප්පතාට පිහිට වෙයි. ආනන්ද සියමව වනු ශාන්තිව ආදරයෙන් රැක බලා ගනී.

ආනන්ද කුඩා කල ඔහුගේ පියාව මරා දමා, තමාට සිටි එකම අයියාවත් පැහැරගෙන යනු ලබන්නේ මේ මුහන්දිරම් විල්සන් විසිනි. අයියාව ගෙන ගොස් මරා දැමීමට විල්සන් ඔහුගේ හිතමිත් මෙනකරුවෙකු භාර දෙයි.

දෙස්තර රූපා මේ මෙහි වූ පිං බෙහෙත් ශාලාවට පත්වීමක් ලැබ එයි. මෙහිදී දෙස්තර රූපාත්, ආනන්දත් අතර ඇති වන්නේ හාදකමකි.

මුහන්දිරම් විල්සන් දූන් විශාල රාත්‍රී සමාජ ශාලාවක අයිතිකාරයෙකි. හොර රහසේ ඔහු මේ රාත්‍රී සමාජ ශාලාවේ දූ කෙලිය පවත්වාගෙන යයි. ආනන්ද සුදු අත්තුවකු බව දැනගත් විල්සන් ඔහුව ගෙන්වා තම ක්ලබ් එකේ රැකියාවක් දෙයි. ආනන්දගේ පැමිණීමත් සමග සුදුවෙන් විල්සන්ට සල්ලි ගලාගෙන එයි. මෙය මුහන්දිරම් විල්සන්ට සතුටට කරුණකි. ආනන්දව ඉහලින් පිලිගනී. ඉන්ස්පෙක්ටර් රොනී මේ ගමට මාරුවක් ලැබ එන්නේ මේ අනර්ථය හොර තිප්පොලවල් වැටලීමට ඔහු දක්ෂයෙකි. මුහන්දිරම් විල්සන් කෙසේ හෝ ඉන්ස්පෙක්ටර් රොනී සමග මිත්‍ර වෙයි. ඉදහිට රොනීද විල්සන්ගේ නිවසට එයි, යයි.

ආනන්දගේත්, රූපාගේත් ප්‍රේම සම්බන්ධය ගැන මුහන්දිරම් විල්සන්ට දැනගන්නට ලැබෙයි, ඔහු කියෙයි ආනන්දව ගෙන්වා ජීවිතෙට ආශාවක් තියෙනවා නම් එම අදහස අත්හැර ගන්නා ලෙස ඔහුට අණ කරයි. විල්සන් රූපාගෙ පියා බවත්, ඔහු මහ ජාවාරම්කාරයකු බවත් ආනන්ද දැනගන්නේ මෙවිටය. ඉන්පසු ආනන්ද ක්ලබ් එකට යාම නතර කරයි මෙය විල්සන්ට තරමක බාධක් ගෙන දෙයි ඒ. තමාගේ රහස් එලිවේදෝ යන බියෙනි. කෙසේ හෝ නැවතත්



අනතුරුව ක්ලබ් එකට ගෙන්වා ගැනීමට විල්සන් උපක්‍රම යොදයි. ඒ හැම දෙයක්ම නිෂ්ඵල වෙයි අන්තිමේදී විල්සන් මැරවරයින් යොදා ආනන්දගෙ මව පැහැරගෙන එන්නේ ආනන්දව තමා වෙත ගෙන්වා ගැනීමේ අදහසිනි, මේ පුවත සැලවූ විගස ආනන්ද පැමිණ විල්සන්ගෙ මැරවරයින්ට

## ...දෙදෙනෙකු පිළිබඳ
## ...ක කතාවකි
# ...ග හිතවතා





හෙ
යසි
ගැ
මේ
රෙ

පලිගැනීමට පැමිණි ආනන්ද ඉන්ස්පෙක්ටර්ව දක පැනයයි. ඉන්ස්පෙක්ටර් රොනී ආනන්දව පුහුබැඳ අල්ලා ගනී.

ඉන්ස්පෙක්ටර් රොනී ආනන්දත් සමග විල්සන්ගේ නිවසට එයි. රොනීත්, ආනන්දත් දකින මුහන්දිරම් විල්සන් බියට පත්වෙයි. විල්සන්ගේ සිගරැට් කේසය ඉන්ස්පෙක්ටර් විල්සන්ට දික්කරයි. කිසිවක් කරකියාගත නොහැකි විල්සන් ගල් රූපයක් මෙන් ඉන්ස්පෙක්ටර් දෙස බලා සිටී. මේ අතර ආනන්දගේ මව මෙතැනට එයි. තම සැමියාවත් මරා දමා, ලොකු පුතාවත් පැහැරගෙන ගියේ විල්සන් බව ශාන්ති මෙහිදී පවසයි. තම පියා මිනීමරුවකු, ජාවාරම්කාරයකු බව රූපා දැනගන්නේ මෙහිදීය. කලබලයට පත් විල්සන් ඇය කියන්නේ බොරුව කැයි පවසන්නම මෙහෙකරු වාස් ඉදිරියට පැමිණ සියල්ල එළිදරව් කරයි. ඉන්ස්පෙක්ටර් රොනී තම වැඩිමල් පුතා බව ශාන්ති මෙහිදී දැන ගනී. අම්මාත්, අයියාත්, මල්ලිත් ඔවුනොවුන් ආදරයෙන් වැළඳ ගනී. මුහන්දිරම් විල්සන් අත්අඩංගුවට ගනී. ආනන්ද සහ රූපා එක්වෙයි.

මෙවැනි කතා පුවතක් ඇතුලත් 'දුප්පතාගේ හිතවතා' චිත්‍රපටියේ නීටා ප්‍රනාන්දු සහ බැප්ටිස් ප්‍රනාන්දු පෙම්වතුන් ලෙස රඟපාති. එච්. ඩී. කුලතුංග, පියදාස විජේකෝන්, ශාන්තිලේඛා, රෙක්ස් කොඩිප්පිලි, එඩී ජයමාන්න, ක්‍රිස්ටි ලෙනාඩ්, දෙන් සිරිසේන, බී. එස්. පෙරේරා, නිමමී, පරිනාලයි, අරුණශාන්ති සහ වින්සන්ට් වාස් සෙසු චරිත රඟදක්වති. වී. වාමදේවන් කැමරා මෙහෙයවා ඇත. රෙක්සාමිගෙ සංගීතයට එච්. ආර්. ජෝතිපාල, ඇන්ජලීන් ගුණතිලක සහ හරුන් ලන්ත්‍රා පසුබිම් ගී ගයති. ගීත පදමාලා කරුණාරත්න අබේසේකර සහ ශ්‍රී නිහාල් ඒ. ජයසිංහ ගෙනි. ආරියරත්න කහවිට මෙහි දෙබස් ලියා ඇත. සෙවන් ආර්ට්ස් වෙනුවෙන් බැප්ටිස් ප්‍රනාන්දු විසින් නිෂ්පාදිත මේ චිත්‍රපටියේ අධ්‍යක්ෂවරයා ඇස්. වී චන්ද්‍රන් ය.

# මිතුරු හමුව

ජේ. ඒ. සුනිල් හැරිංටන්
ව: 21
51 කනුව පුත්තලම පාර,
හලාවත.

ජී නාරංගොඩ ව: 22
6 8/ඒ තොරණ හන්දිය,
නුවර පාර,
කැලණිය.

ෂර්ලි ප්‍රේමලාල් රණසිංහ
ව 17
82, හංවැල්ලවත්ත,
කලපලුවාව,
රාජගිරිය

පද්මා ටී. හේමපාල ව 22
බාටිවෙල.
දෙවාලේත්ත,
රත්නදර

මියුරින් වීරසිංහ ව: 26
15 3 මැද වැලිකඩ පාර,
රාජගිරිය

ඩබ්. උපසිරි ද සිල්වා
ව 16
සේපාක,
පරණවිල,
මීටියාගොඩ.

නිම්මි උඩුනුවර ව; 20
තිරිගල,
ඔකුලු ගනවත්ත
හල්තොට.

තිලක් ඉඳුරුවල ව: 20
.ʼ, ගතේපල,
කෙටුගොඩ.

මාලිනී ජයසිංහ ව; 18
ජයසි නිවාස,
හැටහැත්ත

ජේ. ජ්මනී ප්‍රනාන්දු
ව: 18
72, ජනපදය,
දලුවකොටුව.

මෝනි සමන් ව 23
9, තිස්සපුර
අම්පාර.

සුනේත්‍රා අබේරත්න ව; 24
139, ඉහලගම,
ගම්පහ,

නිහාල් අම සිංහ ව: 21
,අඹර, අමුණවත්ත,
කුරුණෑගල

වයලා ද සිල්වා ව: 21
'අරුණ'
මැලගම,
වාද්දුව.

ඩබ් කේ ඉන්ද්‍රානි ව; 21
185, ඔල්කොට් මාවත,
වැලිවත්ත,
ගාල්ල

සෝමසේන විතානගේ
ව: 24
ඇගල්කන්ද,
අට ල.

කේ බී ප්‍රේමරත්න ව: 18
ප්‍රේමිල් කැපේ,
ගන්දර

වී පී. කුමාරනායක ව: 24
විහාර මාවත,
මාකාවිට,
නාවිමන,
මාතර.

රම්‍යා ලියනගේ ව: 24
236, ඔරුවල,
අතුරුගිරිය

එස්. ඇම් සිරිල් අබේරත්න
ව: 20
262, යුනියන් පෙදෙස,
කොළඹ-2.

පියතිලක රණවීර ව: 22
නාගෙ යහෝ,
දෙනියන්දර.

ඇස් කරුණා ද සිල්වා
ව 22
15 අත්තිඩිය පාර,
රත්මලාන

මානෙල් බී කාරියවසම්
ව 18
29, වෝකර් වීදිය,
හම්බන්තොට

එස්. ඒ. ජයන්ත හේමලතා
ව: 15
140/18, සංඝරාජ මාවත,
කොළඹ-14.

වයි ජයරත්න ද සිල්වා
ව 24
20, රත්නපුර පාර,
හොරණ

පී මාණික්කම් ව; 20
429, මීගමු පාර,
කඳාන

එම්. සිරි කොඩිසිංහ
ව: 25
'වසන්ත'
මාකින්දුරුව,
වරකාපොල.

එල් එල්. නාලිනී ව 17
50 2 පාද දිලිකන පාර,
රාජගිරිය.

ප්‍රේම වත්තේගම ව: 19
14. යෝක් වීදිය,
කොළඹ-1

මහින්ද පොන්සේකා
ව; 20
258 ගාළු පාර,
වැල්ලවත්ත.

වසන්ත කුමාර ව: 17
සිරි වලගම්බා පිරිවෙන,
දඹුල්ල.

ආනන්ද පද්මසිරි ව; 20
නවගමුව,
ගල්ගෙඩ,
රණාල.

හෙන්රි මැනුවෙල් ජෝශප්
ව 18
46 පාම් කෝට්,
යක්කල පාර,
ගම්පහ.

කුසුමදාස හේවනායක
ව 20
106, සුවිසුද්ධාරාම පාර,
කොළඹ 6.

බී කේ කරුණාරත්න
ව: 22
දව ස කීර්ණ ශාලාව.
කෙස්ගම

සුනිල් බණ්ඩාර ව: 20
20, තිව් සිරි,
නව නගරය,
අම්පාර

නන්දසිරි අබේසේකර
ව: 19
453, නුවර පාර,
කැලණිය.

සෝමදාස හක්මනාරච්චි
ව 20
'දිනසිරි'
දියගහ- නාවිමන,
මාතර.

ඩබ්ලිව් වී. ජයතිස්ස
ව: 19
නො: 74, ඔ. පී. එච් මාර්ගව,
පිදිකොටුව.

# නිහතමානී නිළියකි

චිත්‍රපටියක ප්‍රධාන චරිතයක් ප්‍රසිද්ධ දක්ෂ, නළුවෙක් සමග සාර්ථක ලෙස රඟපෑ රඟපෑම ගැන පුදුම හැකියාවක් ඇති දක්ෂතම නිළියකි සවර්ණා කහවිට.

'ඔන්න බබෝ බිල්ලෝ එනවා' චිත්‍රපටයේ සවර්ණා තම කොටස ඉතා සාර්ථක ලෙස රඟපායි. සවර්ණාත් සිංහල සිනමාවේ අනෙක් නිළියන් අතර රඟපෑමේදී කැපී පෙනෙන විශේෂ ලක්ෂණයක් වේ. යම් චරිතයක් නිරූපණය කිරීමේදී අනවශ්‍ය දඟලිලි අඟර දඟරවලට සවර්ණා කිසිවිට මුල් තැන දෙනු නොලැබේ. ඇගේ නිහතමානී වාම රඟපෑම් විලාශයට යමෙක් ගෞරව නොකරයි නම් එය මහ දුදුෂයකි, සවර්ණා සඟවට මීට පලමුදද චිත්‍රපට කීපයක සැහෙන චරිත නිරූපණයක යෙදුනද ජාත්‍යන්තර මට්ටමෙන් ගිනිය හැකි චතුර නළුවෙක් වූ ගාමිණී ෆොන්සේකා සමග රඟපෑ මෙම චිත්‍රපටියෙන් දැදම විශාල ප්‍රසිද්ධියක් ලැබුවාය ඕනෑම චිත්‍රපටියක රඟපාන ප්‍රධාන නළුවා සහ නිළිය අතර රඟපෑමේදී එකිනෙකා හොඳ සහයෝගීතාවයක් දක්විය යුතුය. සවර්ණා කහවිට ගේ කැපී පෙනෙන අනෙක් විශේෂ ලක්ෂණය නම් ගාමිණී සමග රඟපෑමේදී හොඳ සහයෝගිතාවක් දක්වීමය සඳහා කියමින් ගාමිණී සමග පෙම් ජවනිකා රඟදැක්වූ දර්ශනවලදීත් අනිකුත් සියලු දර්ශනවලදීත් සවර්ණා ඉතා උචිත ලෙස රඟපායි චිත්‍රපටයක් සාර්ථක වන හොඳම ක්‍රමය වන එකම ක්‍රමය ප්‍රධාන නළු නිළි යුවලගේ සාර්ථක සහයෝගී රඟපෑම් විලාශයයි වැටහීමකින් යුතුව චිත්‍රපටියක රඟපෑමෙන් එම චිත්‍රපටිය සාර්ථක එකක් වේ.

'ඔන්න බබෝ බිල්ලෝ එනවා.' චිත්‍රපටයේ ලස්සනම සාර්ථක. හොඳම දර්ශනය සවර්ණා සහ ගාමිණී මල් වත්තක ජීප් රිය උඩ සිඳුවක් ගයමින් නැටූ දර්ශනයයි. එම දර්ශනයේදී අපේ දක්ෂ සවර්ණා භාරත සිනමාවේ අතිශය ජනප්‍රිය වූ හුරුබුහුටි 'රාධා සලූජාව' නරඹන්නාහට සිහිපත් කරවන්නේ සලූජාගේ දක්ෂ රඟපෑම් විලාශයටද අනුරූප කම් කියමිනි ඇත තටම ගාමිනී සමග ජීප් රිය උඩ රඟන මේ සුනිළිය භාරත සිනමාවේ 'රාධා සලූජා' මගේම නේදයි යමෙකුට නොසිතේ නම් එය පුදුමයෙකුත් පුදුමයකි තමා රඟපාන පරිසරය ගැන සැලකිලිමත වීමද සවර්ණාගේ රඟපෑමේදී කැපී පෙනෙන තවත් විශේෂතාවයකි

හැබැයි සවර්ණා ඔබ ජාත්‍යන්තර මට්ටමේ උසස් නිළියක ලෙස කවදා හෝ සම්මාන ලබනු ඇත ඔබ එවැනි කීර්තිමත් තත්වයකට පත්වුවත් ගෞරවනීය ලෙස නිළිකම රැකගන්න. ඔබ ලබන සියලුම සම්මානවලට වඩා උසස් වූ ශ්‍රේෂ්ඨතම සම්මානය එයයි.

● ජයසුන්දර ඇම්. දයාරත්න බණ්ඩාර



සයිරාබානු සහ නවීන් නිශ්චල් පෙනී සිටින මේ ජවනිකාව දැන් බොරැල්ලේ ලිඩෝ සිනමා හලේ පෙන්වන 'වික්ටෝරියා 203' චිත්‍රපටියෙනි.

# එක මිනිහයි මුහුණු දෙකයි කරළියේ

ජාඇල කතුවත 'සරසවි සුහද කලාකවය' මගින් 'එක මිනිහයි මුහුණු දෙකයි' නමින් නාට්‍යයක් කරළියට ගෙන ඒමට සූදානම්වේ.

තරුණ ජීවිතයකින් රටට ගමට සේවයක් කරන්න උත්සාහ දරණ තරුණයෙකුට මුහුණ පාන්නට සිදුවෙන කරදර කියා පාන මෙම නාට්‍යයේ කතාව ලියා අධ්‍යක්ෂණය කරන්නේ රෝලන්ඩ් ජයපතිරණයි මෙහි ඉවෝන් ජයසේකර, මර්වින් ඔංබිසරි, නිකලස් ප්‍රනාන්දු අනිල් ප්‍රේමසිරි, ජගත් සමරවීර, සුනිල් උපසිරි ආදීන් චරිත නිරූපණය කරයි මෙහි සංගීතය සපයනුයේ 'සරසවි සුහද කලා' තරුණ පිරිසයි.



# ආදරයෙන් මා හදවට එතෙන ලතා
# ගම්මානෙට එළිය ඔයයි දයා ලතා

හොරේතුඩුවේ රේනුකාගෙන්

දැණිවල කුමුදුට

කප්පුවාසේ කල්
පෙරුම් පුරාගත,
අනනත බාදක දුක් පීඩා විඳ,
ඔබවෙත් ඔවය යන මං
සලකුණු දක
ඔබව සෙයා ආවා - - -
ඔබව සොයා ආවා - - -

•

ඇන්ටන්ගෙන්

පන්තියේ ම ලිනීට

පුංචි රැලි ගවුම ඇඳන් පොත් මිටිය ඉනට තුරුල් කරගෙන තිස් වයි පටිය පුලුනට වැනි වැනී ඔබ කොරිඩෝරය දිගේ එනවිට ජනෙල් කවුලුව තුලින් මම කොච්චර ආශාවෙන්ද බලා ඉන්නේ? ඒත් එපැතුම් ඔක්කොම නැත්වෙලා. බොල් සුලඟෙට මුසුවෙලා ඒ වුනත් මම ඔයා එක්ක තරහ නෑ මාලී, කවදාහරි තවත් ආත්මයකදී අපි පෙම් වතුන් වගේ හමුවෙමු

•

හොරේතුඩුවේ සිරිමල් ගෙන්

ජීවනුම නිලූපට

ගීතයක් නිසා ජීවිතයක් මේ අනුමින් වෙදන වෙන් සදාකාලික විම ගතකරාවියි මම නොසිතුවෙමි, ආදරියගේ විශෝව ගැන මා ගැයූ ගීතයක් නිසා ඔබ මට හමුවිය. ආදරයේ සත්තුෂ්ටිය ලබා ඒ තුලින් බෙදවාචයකට මැදිවූ ජීවිතය අඳුරු ආගාධයකට වැටුණු අවසථාවක ඔබේ ආදරය සහ සෙනෙහස මා වෙත පිදූ බව මා කවදා අමතක නැත. ඒ දිනවල අප ගතකළ චමත්කාර ජීවිතය සිහිවෙනවිට වාචාගත නොහැකි ශෝකයකින් හදවත දැවෙයි. ආදරය කළ හදවතින්ම වෛර කිරීමේ පුරුද්දක් මට නොමැත. අපේ ආදරයේ මරණීය සිහිවීම් මතකයට නංවා ගැනීමට මම උත්සාහ නොකරමි. අතීතය කියා දෙයක් නොමැති නම් මටත් අනාගතයක් ගැන සිතීමට පුලුවන. මා එයින් ඔබට ලියන අවසාන ලිපිය මෙය විය හැක. ඉතින් නිලු! ආගමික ප්‍රශ්ණයක් නිසා අද අපි දෙදෙනාම සඳලු සලන්නෙමු. මම දෙවැනිවරටත් පර ජිතයකු වීමි.

•

අම්පාරේ සරත්ගෙන්

අනුරාධපුර කුමාරිට

තබමින් තොලද තොල
දෙහදක එකග කම
පෙත්වා ලයනැදින
කටකින් අසම සම
කපකින් වැනසුනත්
ලෝකය කියන නම
තීර සිහිවටනයක්
කරමුද අපගේ පෙම

•

පැපිලියවල බෙන්සිල්ගෙන්

වොලුගම්පල දයාලතාට

ආදරයෙන් මා හදවට
එතෙන ලතා
ගම්මානෙට එළිය
ඔයයි දයා ලතා

තුත්තිරිපිටියේ එස්. ගෙන්

මහරගම චිත්‍රා ට

බැඳුණු සෙනහස මා සිතේ
තවම අඩු නැත ඔබ කෙරේ
තිබෙනතුරු මගෙ ජීවිතේ
ඔබට පමණයි ආදරේ - -

•

කටුනායක රේ.බසන්ගෙන්

කුරණ නිෂාට

සඳුයි හිරුයි - තර යි තොපා-යත, නිමිහ නයේ රුදුරු පලීගැ-නීම් විඳිනු වීස වසන්තයක් පැණි බරිත් කෙම් පිරුණු මල් පිපෙන වසන්තයක සිහිලස් සුවය නදක් විත් හොලාබෙන, පලු අඳුරු වේදන කළි ලෝකයකා මා පිට මංවී පැමිණියෙ ඔබ නිසා. මීට වසර දෙකකට පමණ පෙර දවසක ඔබ නිසා මා මේ මරු කතරට ඇද්දී ඔබ මට සිතාපුණා. ඒත් නිමල ආදරයක මහිමයෙන් කෙඳිරක හෝ ඔබ මා සෙනුවෙත් නඩ විගයි මම සිතුවෙම් මාගේ දෙතොල මත පණගැහෙන විදන් වලකී ඒ- මගෙන් තොර ඔබේ මතු මුල අනාගතෙම වාසනා වනත වේවා යනුයි

•

බදුල්ලේ සිරිගෙන්

කුසුමට

අද විඳිනා සැප සම්පත්
හෙට ඔබ අත හැර දමමින්
මා සමගින් දිළිඳු පැලක
දුක් විඳිනට නොව කුමරියෙ
ඔබ නා උපන්නේ.

ඔබේ හදේ දුකක් දෙන්න
සිහිනෙන්වත් නොහැකිය මට
වාසනාව පිරි කුමරෙක්
සමගින් සතුටින් ඉන්නට
මගේ දිලිඳු හදින්
පතමි වාසනා

දුකක් වුවත් මගේ හදට
ඔබේ සතුට වෙනුවෙන් හෙට
මම සැනසෙන්නම්.

හොරේතුඩුවේ රේණුකා ගෙන්

මරදනේ වජීට

ඔබ නිදන්න ඔබ
නිදන්න සුවඳ් සැතපිලා
ඉහ ඉද්දර මම
ඉන්නම් පවන් සා සලා

•

පෙද්දගම සිරිසේනගෙන්

කුමාරිට

ගඟක් කිසිම බාධකයක් නැතිව දිගටම ගලාගෙන යනව නම් ඒකෙ කිසිම ලක්ෂණයක් නෑ. බාධක තියෙන්න ඕනෙ ඒ කිව්වෙ ගල්පර එතකොට ලස්සන ඒ වගේ හැඩිල දිය පාරවල් එහාට මෙහාට ගලනඩ ඕන ආදරයත් අන්න ඒ වාගේ බාධක තියෙන්න ඕනෙ. එතකොට තමා කුමාරි ඒකෙ නියම රසය තියෙන්නෙ.

•

පෙද්දගම ඇඹරත්නාගෙන්

අත්නාගල්ල ජනපදයේ සෝමාට

අතීතයෙන් බිඳිවී මාගේ මනස පුරා විසිරී යන කල්පනා මැදින් ඔබ ගැන සිතන්නට වීමි. මා කෙතෙක් දවස් ඔබ හා සිටින්නට ඇද්ද? එදා එය සෙමිනයක් වුවත් අද එයින් ඇතිවන්නේ වේදනාවකි; දුකකි

අතීතය ගැන නොසිතා සිටීමට තාම මගේ සිත ඔබ කෙරෙහි බැඳී ඇත. අපි බෝහෝදුර බැඳී සිටියත් ඔබ තෙකයට නගා ගැනීමට මට එතරම් අපහසුවක් නැත. අවසන්වරට දකින විට දුටු ඔබගේ අහිංසක දෑස් දෙරින් මා ලැබුවේ කොතරම් සැනසුමක් ද? මට සැනසුම ලබාදුන් ඒ දෑස් සඳහටම මා අනුකාර ගැනීමට මා තුල වූ බලාපොරොත්තුව කොතරම්ද?

# පිළිතුරු

# කදුක්කා කබුක්කා බූබම්බා

පැපිලියාවල බෙන්සිල් රාමනායක සහ ඔරුවල රම්‍යා ලියනගේ කුමාරි

දුන්නම් අා තොබල ඉන්නම බැහැ බලන්න යන්න විධිය කුත් නෑ. ඉතිං මොකද කරන්නෙ ?

★ කාගෙත් හරි වටත ටිකක් ඉල්ලාගෙන රේඩියෝ එකෙන් සිංදුවක් කියන්න

මහනාත්තේරියේ
සිරිසේන රත්නායක

පැරණි චිත්‍රපටි නලුවකු වන අර ණශ නති ගැන දුන් කිසිම ආරංචියක් නැත්තේ මොකෝ ?

★ අරුණශාන්ති දුන් 'දෙවියනි ඔබ කොහිද ?' චිත්‍රපටිය අධ්‍යක්ෂණය කරගෙන යනවා

අම්පේවෙල
මල්කාන්ති වර්ණකුලසූරිය

ඔයා කොහොමද සිනමා නලු නිළියන ගැන ඔය තරම් විස්තර හොයා ගන්නෙ ?

★ ඒක විතරක් අහන්න එපා' අපේ එක්කෙනාගෙන් මට විහුමක් වෙන්නෙ නෑ.

අම්පාරේ සරත් සමරකෝන්

සමහර ගෑණු ළමයි නිතර යකඩ්ට මූණු ණ පවඩර් තවරන්නේ ඇයි ?

★ ගීතෙන් එන පෙම්වතාට සුවද ගහන්න.

මහනාත්තේරියේ
සිරිසේන රත්නායක

අපේ ඇතැම් චිත්‍රපටිවලට ක්ලබ් දර්ශන ඇතුලත් කරන්නේ ඇයි ?

★ ක්ලබ් සින් එකක් දාල, ගැහැණියකගේ ගෙලුවත පිටක් පෙන්නල පුංචි පයිට් එකකුත් දාල අපි තමුසෙලව කොන්නුත් ව අඬුවන්න පුලුවන් නිසා

අලුත්වල ජිනදාස ඒ ගොඩගේ

මොකද තමුසෙ ඔය හැටි ගැහැණුන්ට ඇදල කතාකරන්නේ ?

★ තමුසෙ ඒකවත් ටිරිම්ලයි වගේ

මාගිත්තලුවේ
පද් - 1 ප්‍රේමසිලී කෙ ඩිසිංහ

තරුණියකට ජීවිතයේදී ලද හැකි ලොකුම සතුට කුමක්ද ?

★ එක කොල්ලෙකුට මිහදිල තව කෙනෙකුට ලියුම් ලියල, තවත් අයෙක් එක්ක හොරෙන් පැන යන එක.

මාලබේ රේනුකා මාතෙල් සහ නාරාහේන්පිට
තිලකරත්න පෙරේරා

කොණ්ඩය කපපු ගැහැණු ළමයි චපලයි කියන්නෙ ඇත්තද ?

★ කොණ්ඩය දික්දුණයි කියල ගෑණු ළමයින්ගේ චපලකම් නැතිවෙන්නෙ නෑ.

පේද්දගම සිරිසේන රත්නායක

මටත් ගිතිල තියෙනව පික් චර් එකක් හදන්න,

★ නලු නිළියන් තෝරනදම මිටත් මතක් කරන්න.

මාගිත්තලුවේ
එම්. සිරි කෙ.ඩිසිංහ

ඒ වුණාට අපේ අම්ම ඔයාට ගොඩක් කැමති යිනෙ.

★ අම්මට කියන්න හෙට අනිද්දටම මං එන්නම් කියල.

හෙවැව වියානි ගුණවර්ධන

ශ්‍රී ලංකා ගුවන් විදුලි සංස්ථාවේ සිංහල දෙවන සේවයෙන් ප්‍රචාරය වන ගීත ගැන ඔබේ අදහස කුමක්ද ?

★ මං නම අහල නැතෙ. මොකද හොදද?

අබේසේකර පුර
පී ඒ ජයන්ත සුබසිංහ

'වනමෝහිනී' චිත්‍රපටියේ රඟපෑ සාන්ති ගුණතුංග දැන් සිනමාවෙන් ඈත් වෙලාද ? ඇගේ ලිපිනය කුමක්ද ?

★ හැබැට ඔයේ සිංහල චිත්‍රපටි බලන කෙනෙක්ද ? සාන්ති සිනමාවෙන් ඈතවෙලා දැන් හුඟක් කල් අනේ ඒ ඇත්තිට දැන්වත් නිස්කාන්සුවේ ඉන්න ඉඩ දෙන්න

වරකාපොල සේන මහිපාල
ඇයි දෙරේ ජනේලය ඇරල?

★ බලන් කෙල ගෙන්න හලෝ.

මාලිනී ෆොන්සේකා පෙනී සිටින මේ ජවනිකාව සිනමාස් සමාගම වෙනුවෙන් ජී ත්‍යාගරාජ් විසින් නිපදවෙන යනු ලබන 'ඔහොම මාමෙ කෙල්ල පැනපි' චිත්‍රපටයෙනි.



මාතර මාකාවිට
වී පී. කුමාරනායක

නෑනා නිතරම ඔයාගේ නම ගීතෙත් කියනව මට ඔයයි

★ දෙරියන් ඕව මගෙ ගෙදර එක්කෙනාට ඇහැවිදුණොත්.

තුන්ජ පිපිටියේ එස් මුවගම

පාලා ආ සඳ අඳුරු විලා-වෙනා මා ඉදිරියෙදීම වැහුණා-

★ ආ - ඒක තමයි මෙච්චර කලුවර

කඹුරුපිටියේ
ගුණපාල කස්තුරිආරච්චි

ගක ගක් ගක කදුක්කා කබුක්කා බූබම්බා - මොකක්ද මේ ලේ මැවෙ ?

★ රූප රාජ මහාමාත්‍යයන් ගරු කරු කර්ණ තරුණ තරුනි යන ඊස්ඩ් වැට් උස්සෙන් දුවන චිත්‍රපටි නළුවෙක්

රත්මලාන
නිහාල් ඒ. විජේවර්ධන

සිංහල චිත්‍රපටි මගින් අපේ තරුණ තරුණ බලාපොරොත්තු වන්නේ කුමක්ද ?

★ ගාලියට වේලා වීශාන් ඒක ගහගෙන කොල්ලට විසිල් ගහනව, දුෂ්ඨයට හූ කියන්නත්-

පේද්දගම සිරිසේන රත්නායක

අනේ මචං සිංහල නිළියක් මට යාලු කරල දෙන්න බැරිද ?

★ අනේ මචං මං උඹත් එක්ක අමනාප නෑ




## ලෙස්ටර්ට මල් මිටක්

ළමා චිත්‍රපටි කෙරෙහි වූ තිප්‍ර අතිශය බලාපොරොත්තුවක් තැබිය නොහැකි නිසා අපගේ නිෂ්පාදකයින් ළමා චිත්‍රපටි නිපැයුමට මැලිව සිටිද්දී පෙරට විත් ඒ උදාර කටයුත්තට උරදී ළමා චිත්‍රපටි තැනීමට ඇරඹුම ගැන මගේ දක්ෂම සිනමා කරුවා වශයෙන් නොබියව හැඳින්විය හැකි ලෙස්ටර් ජේම්ස් පීරිස්ට මේ දිවූ වෙත් ළමා පරපුර වෙනුවෙන් මල් මිටක් පිදිය යුතුයැයි සිතමි.

ටී බී ඉලංගරත්නයන්ගේ 'අඹ සහලුවෝ' සහ මාර්ටින් වික්‍රමසිංහයන්ගේ 'මඩොල් දූව' තිරයට ගෙනෙමින් අපේ ළමා පරපුර වෙනුවෙන් සිය හැකියාවන් වැය කිරීමට පෙළඹීම ගැන කලාතුරකින් වූ එතන පතන සැමගේ ප්‍රශංසා ඔහුට හිමිවිය යුතුමය. එසේම එය අප ජාතියේ විශාල ජයක්, වාසනාවක් ලෙසද සැලකීම අපේ යුතුකමකි.

උදාර ජාතික කටයුත්තක් ඇරඹූ ලෙස්ටර්ට අපේ මල් මිටත් සමග උණුසුම් පැතුමත් පතමු.

- ජෝජ් රොබසන් ද සිල්වා

## අමරදේවගේ උසස් සංගීතය

අපේ රටේ උසස්ම සංගීතඥයා වශයෙන් ඩබ්. ඩී. අමරදේව හැඳින්විය හැකිය. ඔහු නිසා අදට විසි හය වසරක සංගීත මෙහෙයක් සිදුවී ඇති බව කොයි කවුරුත් දන්නා කරුණකි.

රටකට උසස් කලා රසිකයන් පිරිසක් බිහි කිරීම කලාකරුවකු අතින් සිදුවිය යුතු යුතුකමකි. ඇත්තෙන්ම එය අමරදේවයන් නිසා සිදුවී ඇති බව කිව හැකිය. උසස් විඥානයක් රසිකයන්ට ලබා දීමට ඔහුගේ සංගීතය මෙන්ම ගායනයද සමත් වෙයි: ඒ අනුව අමරදේවයන් නිසා සිදුවී ඇති අමරණීය සේවය අපි නොමඳ අගය කළ යුතුය



චිත්‍රපටි සහ නාට්‍යකරණයෙහි දී සිංහල සංස්කෘතික රටාව පිළිබඳව මූලික දැනුමකින් යුතුව සංගීත නිර්මාණය සහ ගායනය පිළිබඳව තම කාර්ය ප්‍රතිභාපූර්ණව ඉටු කළ කලාකරුවකු වශයෙන් අමරදේවට අප පැසසිය යුතුය. ඊටත් එය එක් අතකින් අපේ සංරක්ෂණයට කරුණකි

සංගීතය පිළිබඳව මූලික දැනුමකින් යුතුව ස්වර තාල, රාග, භාව යන අංගයන් පිළිබඳව නිරවුල් අවබෝධයකින් යුතුව ගැඹුරු සම්ප්‍රදායක පිහිටා ශාස්ත්‍රීය සංගීතය ප්‍රගුණ කොට ගායන ලොවට පිවිසි අමරදේවගේ නිර්මාණ කුසලතාව නිසා සිංහල සංගීතයේ මෙන්ම ගායනයේද සිදුවූ පෙරළිය මහත්ය. එවැනි ප්‍රතිභාපූර්ණ කලාකරුවන් තව තවත් කලා ලොවට බිහිවේවායි අපි පතමු.

-සිරිසේන රත්නායක

## සිංහලෙන් හින්දි

හින්දිය සරලවූද කෝමල වූද භාෂාවකි. ශාන්ති, සුන, රාත්‍රිය, ආනන්ද, සඳ, අනෝග්‍ය ප්‍රජා, ප්‍රිය මිත්‍ර වැනි දහසක් වචන



හින්දියෙන් පැමිණ සිංහලයෙහි භාවිතය වේ. හින්දිය තරම් ඉගෙනීමට පහසු අන් බසක් නැති තරම්ය.

කලකට පෙර කලාවෙන් ක්‍රමානුකූලව සරල බසින් හින්දි පාඩම් සකස්කර මෙහෙයවූ රත්නසිරි සමරසේකර නෙත් හින්දි උගත් අප අද හින්දි ගීතවල නියම රසය විඳින්නේ ඔහුටත් කල වරත් හඳ පිරි අවංක සතුටිය පිරිනමමිනි. නවක හින්දි ලෝලීන්ගේ වාසනාවකට මෙන් ඔහු නැවතත් හින්දි පාඩම් මෙහෙයවයි.

පොත් සම්පාදනයෙන් සුමනජෝති සට්විරයන් වහන්සේ සහ ඒ දසනායක අත හිත දුන් අතර සිරි සංවලද මතකායන් ඇත් නොවන්නේකි

ඒ සමගම ආර් ඇල් විමල-ධර්මද ගුවනින් ස්වදේශීය මෙන්ම විදේශීය සේවයෙන් ඉන්දියන් සංගීතා ජෝති වැනි වැඩ සටහන් වලින් හින්දි අසන්නන් ගෙන යන්නේ අමුතුම ලොවකට යි.

-විනීත් ගුණවර්ධන

## ප්‍රේක්ෂකයන් බුද්ධිමත්

චිත්‍රපටි නරඹන්නන් හෙවත් ප්‍රේක්ෂකයන් බංකොලොත් චිත්‍රපටි කාරයන් විසින් නූගතුන්යයි හංවඩු ගසා ඇත. ගැලරියට යන ප්‍රේක්ෂකයා වුවද අද බුද්ධිමත්ය. හොඳ චිත්‍රපටි මොනවාද නරක චිත්‍රපටි මොනවාද යයි ඉවෙන් කියන්නා තරම් අද චිත්‍රපටි නරඹන්නා දියුණුවී ඇත. මේ චිත්‍රපටි හදන්නෙ අහවල් අයට යයි කියා කාටකබල් චිත්‍රපටි හදා සිංහල සිනමාව නැත්තටම නැති කරණ සෙනක් හැත්ත චිත්‍රපටි කාරයන් අතින් අයට වඩා තමන්ගේ මල්ලට කාසි වැඩියෙන් වට්ටවා ගන්නට ඔවුන්ටම ආවේනිකවූ ඔවුන් විසින් හදාගත් අසික්කිත උපායකි.

චිත්‍රපටි නරඹන්නා ගැලරියට යන්නේ මැජික් පෙන්වන්නයයි මෝඩ චිත්‍රපටිකරුවන් නොතකා ඉන්නවට සැක නැත. කෙනෙකු ගැලරියට යන්නේ ආර්ථික අතින් කිසියම් අපහසුවක් තිබුණොත් පමණි. ඒ නැතුව ගැලරියට යන්නේ ෆැෂන් කරන්නට නොවන බව බංකොලොත් චිත්‍රපට කරුවන් සිතාගත යුතුය.

තරංගනිය වැනි විශාල ආසන සංඛ්‍යාවක් තිබෙන සිනමාශාලා වල පරසතු මල් වැනි චිත්‍රපටියක් සඳහා ප්‍රේක්ෂකයන් පිරී ඉතිරී ගියා නම් චිත්‍රපට නරඹන්නා බුද්ධිමත් නැ කියල කියන්නේ කොහොමද?

ප්‍රැන්සිස් රණසිංහ

ශාමිණී - සැපායර් - රාජ් - වෙම්බ්ලි - මානෙල් - සෙ[illegible]ස්තාන්
(මරදාන) (වැල්ලවත්ත) (මීගමුව) (නුවර) (මොරටුව) [illegible]ැකඩිං:ජ)

කුසින්ලන් - සමුද්‍රා - රත්නාවලි - ජයාමිණී - නිව් මිනර්[illegible] - අනුර - ප්‍රින්ස්
(නුගේගොඩ) (වත්තල) (ජා-ඇල) (පානදුර) (කළුතර) (අම්බලන්ගොඩ) (ගාල්ල)

ඇස් කේ සින[illegible] - සැම්රොක් - ජායා - ජයන්තා - අනුෂා - ජෝති - ජුපිටර්
(මාතර) (වෙන්නප්පුව) (කෑගල්ල) (ගම්පහ) (මහරගම) (රත්නපුර) (කුරුණෑගල)

බැප්ටිස් ප්‍රනාන්දුගේ

# දුප්පතාගේ හිතවතා

අධ්‍යක්ෂක - ඇස්.වී. චන්ද්‍රා

**සංගීතය**
රොක්සාමි

**කැමරා :**
වාමදේවන්

**කැවුම් :**
රොනල්ඩ් ප්‍රනාන්දු

**දෙබස් :**
ආරියරත්න කහවිට

**පද මාලා :**
කරුණාරත්න අබේසේකර
ශ්‍රී නිහාල් ජ්. ජයසිංහ

**ගායනය :**
ජෝතිපාල - ඇන්ජලින්

බැප්ටිස්ට් ප්‍රනාන්දු ● නීටා ප්‍රනාන්දු ● ශාන්තිලේඛා ● එච්. ඞී කුලතුංග ● පියදාස විජේකෝන් ● එඩී ජයමාන්න
රෙක්ස් කොඩිප්පිලි ● ක්‍රිස් ලෙනාඩ් පෙරේරා ● පරිතාලයි ● දෙන් සිරිසේන ● බී. එස්. පෙරේරා
පූජිත මැන්දිස් ● වින්සන්ට් වාස් ● අරුණ ශාන්ති

**නිෂ්පාදක :** බැප්ටිස්ට් ප්‍රනාන්දු — **සංස්කරණය හා අධ්‍යක්ෂක :** ඇස්. වී. චන්ද්‍රා

---

කිංස්ලි දැන් පෙන්වනු ලැබේ.

## මරක්ක මුඩියුමා

ඇස්. ඇස්. රාජේන්ද්‍රන් ● දේවිකා
සහ මුතුරාමන් රඟපාති

---

කැපිටෝල් - නිව් සිනමා - දීපානි
(කුරුණෑගල) (පොලොන්නරුව)
විජේන්ද්‍රා (අනුරාධපුර) — සඳලංකා (සඳලංකාව)

පළමුවැනි ඓතිහාසික සිංහල චිත්‍රපටි[illegible]

## අශෝකමාලා

(අලුත් පිටපත)

දැන් පෙන්වනු ලැබේ.

ශාන්ති කුමාර් ● එමලින් දිඹුලාන ● හර්බී සෙනෙවිරත්න
මයිකල් සන්නස් ලියනගේ රඟපාති.

**අධ්‍යක්ෂක :** ශාන්ති කුමාර්.
**සංගීතය :** මොහමඩ් ගවුස්.
**කැමරා :** ඇම් මස්තාන්.

---

ලිඩෝ — (බොරැල්ල)

තොකඩවා දින 500 ක් [illegible]බොම්බායෙ ප්‍රදර්ශනය කළ

## වික්ටෝරියා 203

(වර්ණ වත්)

● සයිරාබානු ● අශෝක් කුමාර් ● ප්‍රාන්
නවීන් නිශ්චල් රඟපාති

සංගීතය : කල්‍යාන්ජී ආනන්ජී



සිමාසහිත සිනමාස් සමාගම වෙනුවෙන් ජෝන් ඒ. නල්ලයියා විසින් කොළඹ අළුත් හෙට්ටි වීදියේ අංක: 111 දරණ ස්ථානයේ පිහිටි
සිමාසහිත සිනී මුද්‍රණාලයේ මුද්‍රණය කරවා වර්ෂ 1974 සැප්තැම්බර් 15 වැනිදා ප්‍රසිද්ධ කරණ ලදී.